8091

60832285 .



ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

**2557 - දහම් පාසල් අවසාන සහතික පත්‍ර විභාගය - 2013 (2014)** **S 1**

# (01) බුද්ධ චරිතය

පැ තුනයි

මෙම ප්‍රශ්න පත්‍රය කොටස් **තුනකින්** සමන්විත වේ. යටත් පිරිසෙයින් එක් කොටසකින් **එක්** ප්‍රශ්නයක් වත් ඇතුළත් වන සේ තෝරාගෙන ප්‍රශ්න **පහකට** පමණක් පිළිතුරු සපයන්න.

## I කොටස

1. (අ) බ්‍රාහ්මණ ඉගැන්වීමට අනුව සමාජ ප්‍රභවය කෙටියෙන් දක්වන්න. (ලකුණු 04 යි)
   (ආ) බ්‍රාහ්මණ වර්ණයට හිමි ස්වධර්ම නම් කරන්න. (ලකුණු 04 යි)
   (ඉ) බ්‍රාහ්මණ ඉගැන්වීම් අතර වර්ණධර්ම හා ස්වධර්ම සමාජ විෂමතාවන්ට හේතු වූ අයුරු පෙන්වා දෙන්න. (ලකුණු 06 යි)
   (ඊ) වර්ණධර්ම හා ස්වධර්ම පිළිබඳ ව බුදුරදුන්ගේ විචාරය පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

2. (අ) බුද්ධකාලීන භාරතයේ පැවති පාලන ක්‍රම නම් කරන්න. (ලකුණු 04 යි)
   (ආ) එකල පැවති රාජාණ්ඩු හතර නම් කරන්න. (ලකුණු 04 යි)
   (ඉ) රාජාණ්ඩු අතර මගධ රාජධානිය පිළිබඳ ව කෙටි විස්තරයක් කරන්න. (ලකුණු 06 යි)
   (ඊ) බුද්ධ කාලීනව පැවති සමූහාණ්ඩු නම් කොට ලිච්ඡවීන් අනුගමනය කළ සප්ත අපරිහානීය ධර්ම රාජ්‍ය පාලනයෙහි වැදගත් වන අයුරු පෙන්වා දෙන්න. (ලකුණු 06 යි)

3. (අ) බුද්ධ කාලීන භාරතයේ ජීවත් වූ ශ්‍රමණ කණ්ඩායම් **හතරක්** නම් කරන්න. (ලකුණු 04 යි)
   (ආ) එකල ජීවත් වූ ෂට් ශාස්තෘවරුන් නම් කරන්න. (ලකුණු 04 යි)
   (ඉ) නිගණ්ඨනාත පුත්ත ශාස්තෘතුමාගේ ඉගැන්වීම් කෙටියෙන් පෙන්වා දෙන්න. (ලකුණු 06 යි)
   (ඊ) බුද්ධ කාලීන භාරතීය ආගමික හා දාර්ශනික ඉගැන්වීම් අතර බුදුසමයේ සුවිශේෂත්වය පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

## II කොටස

4. (අ) සිද්ධාර්ථ කුමාරෝත්පත්තිය, නම් තැබීම, වප්මඟුල් උත්සවය, විවාහය හා ශිල්ප දැක්වීම යන අවස්ථාවල වැදගත් සිදුවීම් පෙන්වා දෙන්න. (ලකුණු 04 යි)
   (ආ) සිදුහත් බෝසත් චරිතයෙන් අපට ගතහැකි ආදර්ශ දක්වන්න. (ලකුණු 04 යි)
   (ඉ) සතර පෙරනිමිතිවලින් පෙන්නුම් කෙරෙන ජීවිත යථාර්ථය පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)
   (ඊ) බෝසතාණන් වහන්සේ සත්‍යාවබෝධය සඳහා අනුගමනය කළ ක්‍රියාමාර්ග කෙටියෙන් සාකච්ඡා කරන්න. (ලකුණු 06 යි)

5. (අ) ධම්මචක්කප්පවත්තන සූත්‍රයෙහි ඇතුළත් චතුරාර්ය සත්‍යය නම් කරන්න. (ලකුණු 04 යි)
   (ආ) දුක්ඛ සමුදය ආර්ය සත්‍යයට අයත් තණ්හාවේ ප්‍රභේද දක්වන්න. (ලකුණු 04 යි)
   (ඉ) බුද්ධ කාලීනව පැවති මිථ්‍යා ප්‍රතිපදාව අන්ත දෙකක් ලෙස බැහැර කරන අයුරු දම්සක් පැවතුම් සූත්‍රයට අනුව පෙන්වා දෙන්න. (ලකුණු 06 යි)
   (ඊ) නිවන් ලැබීමේ ආර්ය මාර්ගය ලෙස මධ්‍යම ප්‍රතිපදාව අනුගමනය කිරීමේ වැදගත්කම පහදන්න. (ලකුණු 06 යි)

[ දෙවන පිටුව බලන්න.

6. (අ) බුදු සසුනේ පළමු රහත් සැටනම නම් කරන්න. (ලකුණු 04 යි)
(ආ) පළමු රහත් සැටනම අමතා බුදුරදුන් කළ අනුශාසනය පැහැදිලි කරන්න. (ලකුණු 04 යි)
(ඉ) බුදුරදුන් තුන් බෑ ජටිලයන් දමනය කළ ආකාරය කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු 06 යි)
(ඊ) බුදුසසුනේ පළමු ධර්ම ප්‍රචාරය හා බුදුරදුන්ගේ පණිවුඩය වර්තමාන ලෝකයට අදාළ වන අයුරු සාකච්ඡා කරන්න. (ලකුණු 06 යි)

## III කොටස

7. (අ) ආනන්ද කුමරු සමඟ බුදුරදුන් වෙත පැමිණ පැවිදි වූ ශාක්‍ය කුමාරවරුන් නම් කරන්න. (ලකුණු 04 යි)
(ආ) බුදුරදුන්ගේ කිඹුල්වත්පුර චාරිකාවේ ප්‍රයෝජන **හතරක්** දක්වන්න. (ලකුණු 04 යි)
(ඉ) බුදු සසුනේ ශීඝ්‍ර ව්‍යාප්තියට සුදත්ත සිටුවරයාගේ ජේතවනාරාම පූජාව ඉවහල් වූ අයුරු පෙන්වා දෙන්න. (ලකුණු 06 යි)
(ඊ) මෙහෙණි සසුන පිහිටුවීම, කාන්තාව කෙරෙහි බුදුරදුන් දැක් වූ සහනශීලීතාවේ ප්‍රතිඵලයකි. කෙටියෙන් පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

8. (අ) බුදුසසුනේ විනය නීති පැනවීමේ අවශ්‍යතාව ඉස්මතු කළ හේතු (ආසවට්ඨානීය ධර්ම) නම් කරන්න. (ලකුණු 04 යි)
(ආ) ධර්මධර - විනයධර භික්ෂූන් අතර ඇති වූ අර්බුදය කෙටියෙන් දක්වන්න. (ලකුණු 04 යි)
(ඉ) බුදුසසුනේ ස්ථාවරත්වය සඳහා බුදුරදුන් අනුගමනය කළ ක්‍රියාමාර්ග කෙටියෙන් පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)
(ඊ) ශාසනික අර්බුද සමනය කර ගැනීමෙහිලා සමගියේ පවත්නා වැදගත්කම සාකච්ඡා කරන්න. (ලකුණු 06 යි)

9. (අ) බුදුසසුනේ සිවුවනක් පිරිසෙහි පැවිදි ශ්‍රාවක - ශ්‍රාවිකාවන් **සිවුදෙනෙකු** නම් කරන්න. (ලකුණු 04 යි)
(ආ) බුදුරදුන් එම ශ්‍රාවක - ශ්‍රාවිකාවන් වෙත ප්‍රදානය කළ අගතනතුරු පෙන්වා දෙන්න. (ලකුණු 04 යි)
(ඉ) සැරියුත් - මුගලන් අගසවු දෙදෙනා වහන්සේගේ ශාසනික සේවාව කෙටියෙන් අගයන්න. (ලකුණු 06 යි)
(ඊ) මහා කාශ්‍යප මහරහතන් වහන්සේ හා ආනන්ද මහරහතන් වහන්සේ, සද්ධර්මයේ චිරපැවැත්ම උදෙසා අනුගමනය කළ ක්‍රියාමාර්ග සාකච්ඡා කරන්න. (ලකුණු 06 යි)

10. (අ) බුදුසසුනේ උන්නතියට දායක වූ බුද්ධ කාලීන උපාසක - උපාසිකාවන් **සිවුදෙනෙකු** නම් කරන්න. (ලකුණු 04 යි)
(ආ) ධනංජය සිටුතුමා පතිකුලයට යන විශාඛා දියණියන්ට ලබාදුන් අවවාදය පෙන්වා දෙන්න. (ලකුණු 04 යි)
(ඉ) අනේපිඬු සිටුතුමා හා විශාඛා මහා උපාසිකා යන දෙදෙනාගේ ශාසනික දායකත්වය කෙටියෙන් පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)
(ඊ) බුදුසසුනේ චිර පැවැත්ම උදෙසා වර්තමාන උපාසක - උපාසිකාවන් සතු යුතුකම් හා වගකීම් විචාරයට ලක් කරන්න. (ලකුණු 06 යි)

***